සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

නව/පැරණි නිර්දේශය – புதிய/பழைய பாடத்திட்டம் – New/Old Syllabus

NEW/OLD

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Adv. Level) Examination, 2020

කෘෂි තාක්ෂණවේදය I
விவசாயத் தொழினுட்பவியல் I
Agro Technology I

18 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
* උත්තර පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
* **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පිටුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (×) **යොදා දක්වන්න.**

**1.** මෘදු තාක්ෂණවේදයේ ප්‍රධාන ක්ෂේත්‍රය වන්නේ,
(1) නැනෝ තාක්ෂණයයි.
(2) ජෛව තාක්ෂණයයි.
(3) කාර්මික තාක්ෂණයයි.
(4) ආහාර තාක්ෂණයයි.
(5) තොරතුරු තාක්ෂණයයි.

**2.** කෘෂිකාර්මික ක්‍රියාකාරකම් නිසා ජනනයවන ප්‍රධාන වායුගෝලීය දූෂකය වන්නේ,
(1) $CH_4$ ය.
(2) $CO_2$ ය.
(3) $NO_2$ ය.
(4) $N_2O$ ය.
(5) CFC ය.

**3.** ආහාර පිරමීඩයේ පාදස්ථය මඟින් නිරූපණය වන්නේ, සමබල ආහාරයකට අවශ්‍ය වන,
(1) මේද ප්‍රමාණයයි.
(2) ප්‍රෝටීන් ප්‍රමාණයයි.
(3) විටමින් ප්‍රමාණයයි.
(4) ඛනිජ ලවණ ප්‍රමාණයයි.
(5) කාබෝහයිඩ්‍රේට ප්‍රමාණයයි.

**4.** පුද්ගලයකුගේ ශරීර ස්කන්ධ දර්ශකය (Body Mass Index - BMI) ගණනය කිරීම සඳහා භාවිත කරනු ලබන නිවැරදි සමීකරණය තෝරන්න.

(1) $BMI = \dfrac{\text{පුද්ගලයකුගේ උස (cm)}}{[\text{එම පුද්ගලයාගේ බර (kg)}]^2}$

(2) $BMI = \dfrac{\text{පුද්ගලයකුගේ උස (cm)}}{\text{එම පුද්ගලයාගේ බර (kg)}}$

(3) $BMI = \dfrac{\text{පුද්ගලයකුගේ බර (kg)}}{[\text{එම පුද්ගලයාගේ උස (m)}]^2}$

(4) $BMI = \dfrac{\text{පුද්ගලයකුගේ බර (kg)}}{\text{එම පුද්ගලයාගේ උස (m)}}$

(5) $BMI = \dfrac{\text{පුද්ගලයකුගේ බර (kg)}}{[\text{එම පුද්ගලයාගේ උස (cm)}]^2}$

**5.** ආහාරවල අඩංගු මහා පෝෂක ප්‍රධාන වශයෙන් දායක වන්නේ,
(1) රෝග නිවාරණයට ය.
(2) සාර්ථක ප්‍රජනනයට ය.
(3) වර්ධනය සහ විකසනයට ය.
(4) නිරෝගී ශරීරයක් පවත්වා ගැනීමට ය.
(5) මොළයේ ක්‍රියාකාරීත්වය වැඩි දියුණු කිරීමට ය.




Department of Examinations, Sri Lanka

6. පහත ප්‍රකාශ සලකන්න.

A - ලිපිඩ ඔක්සිකරණය එන්සයිමීය නොවන ක්‍රියාවලියක් ලෙස විස්තර කළ හැකි ය.

B - ලිපිඩ ඔක්සිකරණයෙන් ජනිතවන අවසන් ඵල පෙරොක්සයිඩ් වේ.

C - කැරටිනොයිඩ් මඟින් ලිපිඩ ප්‍රභා ඔක්සිකරණය වීම පාලනය කළ හැකි ය.

ඉහත ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශ/ය වන්නේ,

(1) A පමණි. (2) B පමණි. (3) C පමණි.
(4) A සහ B පමණි. (5) A සහ C පමණි.

7. ආහාර ද්‍රව්‍ය නරක් වීමේදී එහි වෙනස් විය හැකි ඉන්ද්‍රිය ගෝචර නොවන පරාමිතිය වන්නේ,

(1) රසයයි. (2) වර්ණයයි. (3) වයනයයි.
(4) ගන්ධයයි. (5) ඛනිජ ලවණ ප්‍රමාණයයි.

8. ආහාර සුරක්ෂිතතාවය සහ ආහාර ආරක්ෂණය වඩාත් හොඳින් අනුපිළිවෙලින් විස්තර වන්නේ,

(1) අන්තරායකාර නොවන සහ ප්‍රමාණවත් ආහාර පහසුවෙන් ලබා ගතහැකි බවයි.
(2) ප්‍රමාණවත් ආහාර සහ මධ්‍යස්ථ සෞඛ්‍යමය උපද්‍රව සහිත ආහාරවල සුලභතාවයයි.
(3) සෞඛ්‍යමය උපද්‍රව නොමැති සහ ප්‍රමාණවත් ආහාර පහසුවෙන් ලබා ගතහැකි බවයි.
(4) පෝෂ්‍යදායී ආහාරවල සුලභතාවය සහ ජීවාට මානව සෞඛ්‍ය සුරැකීමට ඇති හැකියාවයි.
(5) නිසි පෝෂණයෙන් යුතු ප්‍රමාණවත් සහ සෞඛ්‍යමය උපද්‍රව රහිත ආහාරවල සුලභතාවයයි.

9. පහත ප්‍රකාශ සලකන්න.

A - පලතුරු සහ එළවළු ශීත දාම භාවිත කර බෙදා හැරීම මඟින් ජාතික ආහාර සුරක්ෂිතතාවය තහවුරු කරගත හැකි ය.

B - ශීත දාම භාවිතය මඟින් පලතුරු සහ එළවළුවල ජීව කාලය දීර්ඝ කරගත හැකි ය.

ඉහත ප්‍රකාශ අතුරෙන්,

(1) A සහ B යන දෙක ම සත්‍ය වේ.
(2) A සත්‍ය වන අතර, B අසත්‍ය වේ.
(3) A අසත්‍ය වන අතර, B සත්‍ය වේ.
(4) A සත්‍ය වන අතර, B මඟින් එය වඩාත් පැහැදිලි කෙරේ.
(5) B සත්‍ය වන අතර, A මඟින් එය වඩාත් පැහැදිලි කෙරේ.

10. ගොවියකු විසින් තවානකින් ගලවාගත් මිරිස් බීජ පැළ ක්ෂේත්‍රයේ සිටුවීමෙන් පසුව, පොල්කොළ මඟින් ආවරණය කරන ලදී. ක්ෂේත්‍ර සංස්ථාපනයෙන් පසුව බීජ පැළ ආවරණය කිරීමේ අරමුණ එම පැළ

(1) සුළඟින් ආරක්ෂා කිරීම ය. (2) වර්ෂාවෙන් ආරක්ෂා කිරීම ය.
(3) කෘමීන්ගෙන් ආරක්ෂා කිරීම ය. (4) තුහිනවලින් ආරක්ෂා කිරීම ය.
(5) සෘජු සූර්යාලෝකයෙන් ආරක්ෂා කිරීම ය.

11. පාංශු ජනනය සඳහා බලපෑම් කරන පාරිසරික පරාමිතිය/න් වන්නේ,

(1) ආර්ද්‍රතාවයයි. (2) උෂ්ණත්වයයි. (3) වර්ෂාපතනයයි.
(4) ආර්ද්‍රතාවය සහ උෂ්ණත්වයයි. (5) වර්ෂාපතනය සහ උෂ්ණත්වයයි.

12. පහත ප්‍රකාශ සලකන්න.

A - බීජ සුප්තතාවය, බීජවලට අහිතකර තත්ත්වයන් මැඩපවත්වා ගැනීමට උපකාරී වේ.

B - වැල් දොඩම්වල (*Passiflora edulis*) බීජ සුප්තතාවය ඉවත් කිරීමට, ඒවා සීරීම උපකාරී වේ.

C - පරිණත ජීවී බෝග බීජවල සති දෙක ඉක්මවූ සුප්ත කාලයක් පවතී.

ඉහත ප්‍රකාශ අතුරෙන් සත්‍ය ප්‍රකාශ/ය වන්නේ,

(1) A පමණි. (2) B පමණි. (3) C පමණි.
(4) A සහ B පමණි. (5) B සහ C පමණි.

13. ක්ෂේත්‍රයේ පේළියට බීජ සිටුවීම මඟින් බෝග සංස්ථාපනයට අදාළ වාසියක් වන්නේ,

(1) දුර්වල බීජ පැළ ඉවත් කිරීම පහසු වීමයි.
(2) වල් නෙළන යන්ත්‍ර භාවිතයෙන් වල් මර්දනය පහසු වීමයි.
(3) බීජ ප්‍රරෝහණය සඳහා ප්‍රශස්ත තත්ත්වයන් ලබා දීමට හැකි වීමයි.
(4) පේළිවල ඇති අමතර අවකාශවල අතිරේක පැළ සිටුවීමට හැකියාව ලැබීමයි.
(5) අනෙකුත් භෝග සංස්ථාපන ක්‍රමවලට සාපේක්ෂව වඩා ශක්තිමත් බීජ පැළ ලබා ගැනීමට හැකි වීමයි.





Department of Examinations - Sri Lanka

**14.** බීජ පාරිශුද්ධතා ප්‍රතිශතය, බීජ කර්මාන්තයේදී සැලකිය යුතු ප්‍රධාන සාධකයකි. Bg 360 බීජ තොගයක, Bg 358 සහ *Echinochloa crus-galli* වල් බීජ අඩංගු වීම වඩාත් හොඳින් විස්තර වන්නේ,
(1) භෞතික පාරිශුද්ධතාවයට අදාළ ගැටලුවක් පමණක් ලෙස ය.
(2) ප්‍රවේණික පාරිශුද්ධතාවයට අදාළ ගැටලුවක් පමණක් ලෙස ය.
(3) විශේෂ සහ භෞතික පාරිශුද්ධතාවයට අදාළ ගැටලුවක් පමණක් ලෙස ය.
(4) ප්‍රවේණික සහ භෞතික පාරිශුද්ධතාවයට අදාළ ගැටලුවක් පමණක් ලෙස ය.
(5) වල්පැළෑටි සහ භෞතික පාරිශුද්ධතාවයට අදාළ ගැටලුවක් පමණක් ලෙස ය.

001639

**15.** කොතලහිඹුටු (*Salacia reticulata*) ප්‍රතිකාරයක් ලෙස යොදාගනු ලබන්නේ,
(1) ඇදුම සඳහා ය.
(2) පැපොල සඳහා ය.
(3) සරම්ප සඳහා ය.
(4) කම්මුල්ගාය සඳහා ය.
(5) මධුමේහය (දියවැඩියාව) සඳහා ය.

**16.** කසාය මිශ්‍රණ සඳහා මුල් යොදා ගන්නා ඖෂධ පැළෑටිය තෝරන්න.
(1) බුළු (2) අරළු (3) ඉගුරු (4) නෙල්លි (5) ආඩතෝඩා

**17.** පහත දෑ අතුරෙන් සැවැන්දරා ශාකයේ ඖෂධීය ගුණය සහිත ආර්ථික වටිනාකමක් ඇති අස්වැන්න නෙළා ගැනීම සඳහා වඩාත් උචිත මෙවලම තෝරන්න.
(1) පිහිය (2) කතුර (3) හැන්ද (4) සූරනය (5) අලවංගුව

**18.** ජීවන චක්‍රය සම්පූර්ණ කිරීම සඳහා කිවුල් දිය පරිසරයක් අවශ්‍ය වන මත්ස්‍යයා තෝරන්න.
(1) ලූලා (2) මගුරා (3) කාපයා (4) තිලාපියා (5) වෙක්කයා

**19.** පසු අස්වනු හානිය අඩු කිරීමේ ක්‍රමයක් සඳහා වඩාත් සුදුසු උදාහරණය වන්නේ,
(1) කිරි මඟින් මුදවපු කිරි නිෂ්පාදනය කිරීම ය.
(2) ප්‍රවාහනයේදී කඩදාසි මඟින් ගස්ලබු ඳැවටීම ය.
(3) සත්ත්ව ආහාර ලෙස සහල් නිවුඩු යොදා ගැනීම ය.
(4) ඉවතලන ආහාර ගෘහාශ්‍රිත සතුන් සඳහා ආහාරයට දීම ය.
(5) පත්‍ර කීඩැවන් මර්දනය සඳහා ජෛව පළිබෝධනාශක යෙදීම ය.

**20.** ශ්‍රී ලංකාවේ පලතුරු සහ එළවළුවල පසු අස්වනු හානියේ ප්‍රමාණය සාමාන්‍යයෙන් සලකනු ලබන්නේ,
(1) 5% - 10% ලෙස ය.
(2) 10% - 20% ලෙස ය.
(3) 20% - 40% ලෙස ය.
(4) 40% - 60% ලෙස ය.
(5) 60% - 80% ලෙස ය.

**21.** ජීවියකුගේ තැනුම් ඒකකය වන්නේ,
(1) පටකයි. (2) ප්‍රෝටීනයි. (3) සෛලයයි. (4) ඉන්ද්‍රියිකායි. (5) න්‍යෂ්ටික අම්ලයි.

**22.** නවක කළමනාකරණ උපාධිධාරියකු කුකුළු ගොවිපළක් ආරම්භ කිරීමට සැලසුම් කරයි. මේ සඳහා සුදුසු භූමියක් සහ වෙළඳ පොළක් පවතින නමුත්, දේශීය සමාගම් කිහිපයක් මෙම වෙළඳ පොළට කුකුළු මස් සපයනු ලැබේ. ශදුඅත විශ්ලේෂණයට අනුව මෙම ව්‍යාපෘතියේ ශක්තිය, දුර්වලතාවය, අවස්ථාවන් හා තර්ජනයන් ලෙස දැක්විය හැක්කේ, පිළිවෙළින්
(1) සුදුසු භූමිය, නිසි පුහුණුවක් නොමැති බව, වෙළඳ පොළ සහ වෙනත් සැපයුම්කරුවන් ය.
(2) වෙළඳ පොළ, සුදුසු භූමිය, නිසි පුහුණුවක් නොමැති බව සහ වෙනත් සැපයුම්කරුවන් ය.
(3) සුදුසු භූමිය, කළමනාකරණ උපාධිය, වෙළඳ පොළ සහ නිසි පුහුණුවක් නොමැති බව ය.
(4) වෙනත් සැපයුම්කරුවන්, කළමනාකරණ උපාධිය, නිසි පුහුණුවක් නොමැති බව සහ වෙළඳ පොළ ය.
(5) වෙළඳ පොළ, වෙනත් සැපයුම්කරුවන්, නිසි පුහුණුවක් නොමැති බව සහ කළමනාකරණ උපාධිය ය.




**23.** නිෂ්පාදනය අරමුණු කරගත්, ආහාර පදනම් කරගත් තාක්ෂණික ව්‍යවසායකත්වයක් සඳහා උදාහරණයක් වන්නේ,
(1) ආහාර සැපයීමේ සේවාව ය.
(2) අවන්හලක් පවත්වාගෙන යාම ය.
(3) කිරිගව ගොවිපළක් පවත්වාගෙන යාම ය.
(4) යෝගට් නිෂ්පාදනාගාරයක් පවත්වාගෙන යාම ය.
(5) කොවිඩ් - 19 රෝගයෙන් ආරක්ෂා වීම සඳහා මුහුණු ආවරණ විකිණීම ය.

Department of Examinations - Sri Lanka

**24.** කොම්පෝස්ට් සෑදීම පිළිබඳව සත්‍ය ප්‍රකාශය තෝරන්න.

(1) අමුද්‍රව්‍ය කොම්පෝස්ට් බවට පත්වීමේදී C : N අනුපාතය හීන වේ.
(2) කොම්පෝස්ට් නිෂ්පාදන ක්‍රියාවලිය අවසාන වනවිට $CO_2$ මුදා හැරීම වැඩි වේ.
(3) කොම්පෝස්ට් නිෂ්පාදන ක්‍රියාවලියේදී කොම්පෝස්ට් ගොඩෙහි කාබන් (C) ප්‍රමාණය වැඩි වේ.
(4) කොම්පෝස්ට් නිෂ්පාදන ක්‍රියාවලියේදී කොම්පෝස්ට් ගොඩෙහි උෂ්ණත්වය අඛණ්ඩව ඉහළ යයි.
(5) කොම්පෝස්ට් සෑදීමේ ක්‍රියාවලිය අවසානයේදී කොම්පෝස්ට් ගොඩෙහි ජල ප්‍රමාණය වැඩි වේ.

**25.** සම්මත සංකේත භාවිතයෙන් විවිධ නිෂ්පාදන ක්‍රියාවලි විස්තර කළ හැකි ය. සම්මත සංකේත භාවිත කරමින් සෙට්-යෝගට් නිෂ්පාදන ක්‍රියාවලිය නිවැරදිව නිරූපණය කරන්නේ,

(1) ○ → △ → □ → ▽ මගිනි.
(2) △ → ○ → □ → ▽ මගිනි.
(3) □ → △ → ○ → ▽ මගිනි.
(4) ○ → □ → △ → ▽ මගිනි.
(5) □ → ○ → △ → ▽ මගිනි.

Department of Examinations - Sri Lanka

**26.** පහත ප්‍රකාශ සලකන්න.

A - මෘදුකාංග භාවිතය සඳහා දෘඩාංග යටිතල ව්‍යුහයන් අත්‍යවශ්‍ය වේ.
B - මෘදුකාංග භාවිතය සඳහා අන්තර්ජාලය අවශ්‍ය වේ.
C - බලපත්‍රයක් රහිතව වාණිජ මෘදුකාංග භාවිතය වරදක් වේ.

ඉහත ප්‍රකාශ අතුරෙන් තාක්ෂණික භාවිත සඳහා මෘදුකාංග යොදාගැනීම වඩාත් හොඳින් විස්තර කරන්නේ,

(1) A පමණි. (2) B පමණි. (3) A සහ B පමණි.
(4) A සහ C පමණි. (5) B සහ C පමණි.

**27.** නගුල් සාමාන්‍යයෙන් භාවිත වන්නේ,

(1) කාණු හැරීමට ය. (2) අතුරුයත් ගෑමට ය.
(3) පාත්ති සැකසීමට ය. (4) ප්‍රාථමික බිම් සැකසීමට ය.
(5) පහත්බිම්වල ද්විතීයික බිම් සැකසීමට ය.

**28.** යාන්ත්‍රික බීජ වක්කර භාවිතයේදී පේළි තුළ පැළ අතර පරතරය පාලනය කරනු ලබන්නේ,

(1) බීජ නලය මගිනි.
(2) ඇලි විවෘතකය මගිනි.
(3) තෙරපුම් රෝදය මගිනි.
(4) ඉදිරියට යන වේගය මගිනි.
(5) බීජ මානන උපකරණය මගිනි.

**29.** කෝඩි ජල සම්පාදනය වඩාත් සුදුසු වන්නේ, ශ්‍රී ලංකාවේ

(1) උඩරට හරිතාගාර සඳහා ය.
(2) වැලි පසක පොල් වගා කිරීම සඳහා ය.
(3) වැලි පසක එළවළු වගා කිරීම සඳහා ය.
(4) තෙත් කලාපයේ ක්ෂේත්‍ර භෝග සඳහා ය.
(5) වියළි කලාපයේ පලතුරු උද්‍යාන සඳහා ය.

**30.** මෙම උපාංගය කොටසක් වන්නේ,



(1) නගුලක ය.
(2) නැප්සැක් ඉස්නාවක ය.
(3) ජල සම්පාදන පද්ධතියක ය.
(4) බිම් සැකසීමේ උපකරණයක ය.
(5) බෝග ආරක්ෂණ උපකරණයක ය.

**31.** උප පෘෂ්ඨීය ජල සම්පාදනය සඳහා උදාහරණයක් වන්නේ,
(1) ගැඹුරු විවෘත කාණු යි.
(2) බිංදු ජල සම්පාදනය යි.
(3) ඇලි ජල සම්පාදනය යි.
(4) වළලු ජල සම්පාදනය යි.
(5) බේසම් ජල සම්පාදනය යි.

**32.** පහත තත්ත්වය සලකන්න.
"බඩඉරිඟු පැළවල කොළ පුල්ලි ඇතිවීම, පත්‍ර අග්‍ර මැලවීම සහ පරිණත පත්‍ර හරිතක්ෂය වීම නිරීක්ෂණය කරන ලදී."
ඉහත තත්ත්වය නිවැරදිව විස්තර කෙරෙන්නේ,
(1) Cl සංචරණය වන ක්ෂුද්‍ර මූල ද්‍රව්‍යයක් බැවින් Cl ඌනතාවය ලෙස ය.
(2) Zn සංචරණය වන ක්ෂුද්‍ර මූල ද්‍රව්‍යයක් බැවින් Zn ඌනතාවය ලෙස ය.
(3) Cl සංචරණය නොවන ක්ෂුද්‍ර මූල ද්‍රව්‍යයක් බැවින් Cl ඌනතාවය ලෙස ය.
(4) Zn සංචරණය නොවන ක්ෂුද්‍ර මූල ද්‍රව්‍යයක් බැවින් Zn ඌනතාවය ලෙස ය.
(5) Cu සංචරණය නොවන ක්ෂුද්‍ර මූල ද්‍රව්‍යයක් බැවින් Cu ඌනතාවය ලෙස ය.

**33.** පොස්පො කොම්පෝස්ට් සම්බන්ධ පහත ප්‍රකාශ සලකන්න.
A - එළු හා ඌරු පොහොර සමඟ 10% w/w රොක් පොස්පේට් මිශ්‍ර කිරීමෙන් පොස්පරස් සරුකරන ලද කොම්පෝස්ට් සාදනු ලබයි.
B - ඌරු පොහොර සමඟ 15% w/w රොක් පොස්පේට් මිශ්‍ර කිරීමෙන් පොස්පරස් සරුකරන ලද කොම්පෝස්ට් සාදනු ලබයි.
C - එළු, ඌරු සහ ගව පොහොර සමඟ 5% w/w රොක් පොස්පේට් මිශ්‍ර කිරීමෙන් පොස්පරස් සරුකරන ලද කොම්පෝස්ට් සාදනු ලබයි.
ඉහත ප්‍රකාශ අතුරෙන් සත්‍ය වන්නේ,
(1) A පමණි. (2) B පමණි. (3) C පමණි.
(4) A සහ B පමණි. (5) B සහ C පමණි.

**34.** කෘෂි යෙදවුම්වල භාවිතයේ කාර්යක්ෂමතාවය වැඩිදියුණු කිරීම, බෝගවල නිෂ්පාදකතාවය ඉහළ දැමීමේ එක් ප්‍රධාන මාර්ගයකි. මේ සම්බන්ධයෙන් පහත දැ අතුරෙන් **වඩාත් නිවැරදි** ප්‍රකාශය තෝරන්න.
(1) ට්‍රිපල් සුපර් පොස්පේට් ලංකාවේ වී වගාවේ මූලික පොහොරෙහි අත්‍යවශ්‍ය සංඝටකයකි.
(2) සම්පූර්ණ මියුරේට් ඔෆ් පොටෑෂ් අවශ්‍යතාවය, මූලික පොහොර ලෙස යෙදීමෙන්, ශාකවල $K_2O$ අවශෝෂණය වැඩි වේ.
(3) බෝගයේ සම්පූර්ණ නයිට්‍රජන් අවශ්‍යතාවය එක් මතුපිට යෙදීමක් මඟින් සැපයීමෙන් යූරියාවල නයිට්‍රජන් හානිය අවම කළ හැකි ය.
(4) සෙමෙන් පෝෂක නිදහස් කරන පොහොර, මූලික පොහොරක් ලෙස යෙදීමෙන් බෝගවලට මල්හට ගැනීමෙන් පසුව ප්‍රමාණවත් තරම් පෝෂක සැපයේ.
(5) නියමිත කලට සහ අඛණ්ඩව පොහොරවලින් පෝෂක නිදහස් කිරීම වැඩි දියුණු කිරීම සඳහා නැනෝ තාක්ෂණය ඵලදායී ලෙස භාවිත කළ හැකි ය.

**35.** බීජ සුප්තතාවය බිඳ හෙළීම සඳහා දායකවන හෝර්මෝනය වන්නේ,
(1) එතිලීන් ය.
(2) ගිබරලීන් ය.
(3) සයිටොකයිනින් ය.
(4) ඇබ්සිසික් අම්ලය ය.
(5) ඉන්ඩෝල් ඇසිටික් අම්ලය ය.

**36.** පටක රෝපණය සම්බන්ධයෙන් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) කිණක පටක නිර්මාණය අංගජනනය (organogenesis) ලෙස හඳුන්වයි.
(2) අර්තාපල් ඩෙක්ස්ට්‍රෝස් (Potato dextrose) යනු වඩාත් සුදුසුම ජෙලිකාරකයයි.
(3) පූර්වකවල (ex-plants) මතුපිට ජීවාණුහරණය සඳහා මර්කියුරික් බ්‍රෝමයිඩ් භාවිත කරයි.
(4) කිණක පටකවලින් ප්‍රාක්ප්ලාස්ට නිෂ්පාදනය සඳහා ප්‍රෝටියෝලිටික එන්සයිම උපකාරී වේ.
(5) ඇල්බියුමින් මස්තු (serum albiumin) රෝපණ මාධ්‍ය සඳහා යොදා ගැනෙන මූලික සංඝටකයකි.



Department of Examinations - Sri Lanka

**37.** පූර්ව නිර්ගමන වල්නාශක භාවිත කරනුයේ,
(1) බීජ පත්‍ර 2-3 අවධියේදී, වල්පැළෑටි විනාශ කිරීමට ය.
(2) පස මතුපිට ඇති වර්ධක ප්‍රචාරක ව්‍යුහයන් මැරීමට ය.
(3) කෘෂිකාර්මික නොවන බිම්වල වල්පැළෑටි මර්දනය කිරීමට ය.
(4) බෝගය සංස්ථාපනය කිරීමට පෙර වල්පැළෑටි මර්දනය කිරීමට ය.
(5) පස තුළ ඇති වල්පැළෑටි වර්ධක කොටස් පාලනය කිරීමට ය.

**38.** වී වගාවේ දුඹුරු පැළ කීඩැවාගේ උවදුර වැළැක්වීම සඳහා වන වඩාත් ඵලදායී තාක්ෂණය වන්නේ,
(1) ගැඹුරට සී සෑම යි.
(2) අඛණ්ඩව ජලයෙන් යට කිරීම යි.
(3) කෘමිනාශක නැවත නැවත භාවිත කිරීම යි.
(4) ප්‍රදේශය තුළ විවිධ කාල පරාසවලදී වී වගා කිරීම යි.
(5) ක්ෂේත්‍ර සංස්ථාපනය සඳහා අවශ්‍ය වන බිත්තර වී ප්‍රමාණය වැඩි කිරීම යි.

**39.** ශ්‍රී ලංකාවේ බෝගවල රෝග සහ පළිබෝධ කළමනාකරණය සම්බන්ධයෙන් සත්‍ය ප්‍රකාශය තෝරන්න.
(1) වෛරස රෝග, බෝගවල වඩාත් සුලභ රෝග කාණ්ඩය යි.
(2) කොළ කොඩවීමේ රෝගය මිරිස්වල වඩාත්ම විනාශකාරී රෝගය යි.
(3) කොපර් සල්ෆේට් යනු වඩාත් බහුලව භාවිත කරනු ලබන දිලීර නාශකය යි.
(4) තවාන්වල පාංශු ජීවානුහරණය මගින් බෝගවල කෘමි පළිබෝධකයින් බොහොමයක් පාලනය කරයි.
(5) ජලය බැඳීම, වීවල ක්ෂේත්‍ර සංස්ථාපනයෙන් පසු රෝග පළිබෝධ පාලනය කිරීමේ වඩාත් ඵලදායී ක්‍රමය යි.

**40.** පළිබෝධනාශක යෙදීමේදී භාවිත කළයුතු වඩාත් වැදගත් පුද්ගල ආරක්ෂණ මෙවලම (PPE) වන්නේ,
(1) ලේබලය කියවීම යි.
(2) දැත් ආවරණ පැළඳීම යි.
(3) උචිත ඉසින යන්ත්‍රයක් භාවිතය යි.
(4) තද සුළං ඇති අවස්ථාවලදී ඉසීමෙන් වැළකීම යි.
(5) සම්පූර්ණ ශරීරය සුදුසු ඇඳුමකින් ආවරණය කර ගැනීම යි.

**41.** පහත දැක්වෙන පැති විවෘතව ඇති පොලිතීන් වියනක් සහිත ආරක්ෂක ගෘහ ව්‍යුහය වන්නේ,



(1) හරිතාගාරය යි.
(2) දැල් හවුසය යි.
(3) සූර්ය ප්‍රචාරකය යි.
(4) වැසි ආවරණය යි.
(5) පොලිතීන් උමග යි.

**42.** ශ්‍රී ලංකාවේ කෘෂි නිෂ්පාදනය සඳහා හරිතාගාර යොදා ගැනීමේ ප්‍රධාන සීමාකාරී සාධකයක් වන්නේ,
(1) අධික සුළඟ යි.
(2) අධික උෂ්ණත්වය යි.
(3) අධික වර්ෂාපතනය යි.
(4) අධික ප්‍රාග්ධන වියදම යි.
(5) රාත්‍රියේදී ඇති අඩු ආර්ද්‍රතාවය යි.

**43.** අපනයන වෙළඳ පොළ සඳහා සැකසීමේදී ජර්බෙරා කැපූ මල් අස්වනු නෙළා ගැනීමෙන් සහ පාදස්ථ කාෂ්ඨීය කොටස ඉවත් කිරීමෙන් පසු සිදුකළ යුතු නිවැරදි ක්‍රියා පිළිවෙළ වන්නේ,
(1) නොගැඹුරු කාඩ්බෝඩ් ඇසුරුම් තුළ සිරස් ලෙස තනිව මල් ඇසිරීම, 100 ppm සිල්වර් නයිට්‍රේට් ද්‍රාවණයක මල්වල නටු ගිල්වීම සහ 1°C හි ගබඩා කිරීම යි.
(2) 100 ppm සිල්වර් නයිට්‍රේට් ද්‍රාවණයක මල්වල නටු ගිල්වීම, නොගැඹුරු කාඩ්බෝඩ් ඇසුරුම් තුළ තිරස් ලෙස තනිව මල් ඇසිරීම සහ 1°C හි ගබඩා කිරීම යි.
(3) 40 ppm සෝඩියම් හයිපොලෝරයිට් ද්‍රාවණයක මල්වල නටු ගිල්වීම, නොගැඹුරු කාඩ්බෝඩ් ඇසුරුම් තුළ තිරස් ලෙස තනිව මල් ඇසිරීම සහ 1°C හි ගබඩා කිරීම යි.
(4) 100 ppm සිල්වර් නයිට්‍රේට් ද්‍රාවණයක මල්වල නටු ගිල්වීම, නොගැඹුරු කාඩ්බෝඩ් ඇසුරුම් තුළ තිරස් ලෙස තනිව මල් ඇසිරීම සහ 10°C හි ගබඩා කිරීම යි.
(5) 100 ppm සෝඩියම් හයිපොක්ලෝරයිට් ද්‍රාවණයක මල්වල නටු ගිල්වීම, නොගැඹුරු කාඩ්බෝඩ් ඇසුරුම් තුළ සිරස් ලෙස තනිව මල් ඇසිරීම සහ 1°C හි ගබඩා කිරීම යි.

[හත්වැනි පිටුව බලන්න



Department of Examinations - Sri Lanka

**44.** කැපූ මල් ලෙස රෝසමල් අස්වනු නෙළීමේ සුදුසුම අවධිය විස්තර කෙරෙන පහත ප්‍රකාශ සලකන්න.

A - පරිණත පත්‍ර 1-2 සහිත, සම්පූර්ණයෙන් වර්ණවත් වූ 'open bud' අවස්ථාවේදී ය.
B - පරිණත පත්‍ර 1-2 සහිත, සම්පූර්ණයෙන් වර්ණවත් වූ 'tight bud' අවස්ථාවේදී ය.
C - පරිණත පත්‍ර 3-4 සහිත, සම්පූර්ණයෙන් වර්ණවත් වූ 'tight bud' අවස්ථාවේදී ය.

ඉහත ප්‍රකාශය/ප්‍රකාශ අතුරෙන් සත්‍ය වන්නේ,

(1) A පමණි. (2) B පමණි. (3) C පමණි.
(4) A සහ B පමණි. (5) B සහ C පමණි.

**45.** බෝදර (border) ශාක භාවිතයේ එක් අරමුණක් වන්නේ,

(1) වල් මර්ධනය යි. (2) නිදහස් අවකාශ පිරවීම යි.
(3) සතුන් ආකර්ෂණය කිරීම යි. (4) තෙතමනය සංරක්ෂණය යි.
(5) අනවශ්‍ය දර්ශන ආවරණය කිරීම යි.

**46.** බඩ ඉරිඟු ඇටවල අඩංගු ප්‍රධාන පෝෂකය වන්නේ,

(1) මේදය යි. (2) තන්තු යි. (3) පිෂ්ටය යි. (4) ප්‍රෝටීන යි. (5) විටමින යි.

**47.** සත්ත්ව ආහාර සූත්‍රණයට සම්බන්ධ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.

A - බ්‍රොයිලර් සතුන්ගේ සලාකයට සාපේක්ෂව බිත්තර දමන කිකිළියන්ගේ සලාකයේ වැඩි කැල්සියම් ප්‍රමාණයක් සහ අඩු ප්‍රෝටීන ප්‍රමාණයක් අන්තර්ගත විය යුතු ය.
B - කිරි දෙනුන්ගේ ආහාර සලාකයට සාපේක්ෂව නැම්බියන්ගේ ආහාර සලාකයේ ප්‍රෝටීන සහ කැල්සියම් වැඩි ප්‍රමාණයක් අන්තර්ගත විය යුතු ය.
C - සියලුම කුකුල් ආහාර අතුරෙන් වැඩිම ප්‍රෝටීන ප්‍රමාණයක් අන්තර්ගත වනුයේ බ්‍රොයිලර් පැටවුන්ට දෙන ආහාරයේ ය.
D - සියලුම කුකුල් ආහාරවලට වර්ණක එකතු කරනු ලැබේ.

ඉහත ප්‍රකාශ අතුරෙන් සත්‍ය වනුයේ,

(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි.
(4) B සහ D පමණි. (5) C සහ D පමණි.

**48.** බිත්තර රක්කවීමේදී ආලෝක ධාරා පරීක්ෂාව කරනුයේ,

(1) කළලයේ පිහිටීම නිරීක්ෂණය කිරීමට ය.
(2) කුකුළු පැටවුන්ගේ ලිංගය නිර්ණය කිරීමට ය.
(3) බිත්තර රක්කවීමේ ප්‍රතිශතය ගණනය කිරීමට ය.
(4) බිත්තර රක්කවීම ආරම්භ කර දින 15කට පසුව ය.
(5) බිත්තර රක්කවනය තුළ ඇති නුසුදුසු බිත්තර ඉවත් කිරීමට ය.

**49.** ගවයින්ගේ කෘත්‍රිම සිංචනයට අදාළ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.

A - කෘත්‍රිම සිංචනය නිසා ලිංගාශ්‍රිත රෝග සම්ප්‍රේෂණය වීම අඩු වේ.
B - ශුක්‍ර තනුකකරණය කිරීමේ අරමුණ, අනාගත ප්‍රයෝජනය සඳහා ශුක්‍ර සංරක්ෂණය කිරීම ය.
C - දෘෂ්ටි පරීක්ෂාව මගින් ශුක්‍රවල ශුක්‍රාණු සාන්ද්‍රණය ඇස්තමේන්තු කළ හැකි ය.

ඉහත ප්‍රකාශ අතුරෙන්,

(1) A පමණක් නිවැරදි ය. (2) B පමණක් නිවැරදි ය.
(3) C පමණක් නිවැරදි ය. (4) A සහ B යන දෙක ම නිවැරදි ය.
(5) B සහ C යන දෙක ම නිවැරදි ය.

**50.** පහත දැ අතුරෙන් වඩාත් නිවැරදි ප්‍රකාශය තෝරන්න.

(1) ශීතනය මගින් නැවුම් කිරි සති දෙකක් පමණ තබාගත හැකි ය.
(2) පෝෂණ ගුණය වැඩි කිරීම සඳහා කිරි පරිරක්ෂණය කරනු ලැබේ.
(3) පැස්චරීකෘත කිරිවලට වඩා ජීවාණුහරිත කිරි දීර්ඝ කාලයක් තබාගත හැකි ය.
(4) ජීවාණුහරිත කිරිවලට වඩා පැස්චරීකෘත කිරි දීර්ඝ කාලයක් තබාගත හැකි ය.
(5) පැස්චරීකරණය සහ ජීවාණුහරණය යන ක්‍රම දෙක මගින්ම කිරිවල අඩංගු සියලුම ක්ෂුද්‍රජීවීන් විනාශ කළ හැකි ය.

* * *

Department of Examinations - Sri Lanka

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

නව/පැරණි නිර්දේශය – புதிய/பழைய பாடத்திட்டம் – New/Old Syllabus

**NEW/OLD**

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Adv. Level) Examination, 2020

කෘෂි තාක්ෂණවේදය II
விவசாயத் தொழினுட்பவியல் II
Agro Technology II

18 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

විභාග අංකය : ...................................

**උපදෙස් :**

* මෙම ප්‍රශ්න පත්‍රය පිටු **09**කින් සහ ප්‍රශ්න **10**කින් සමන්විත වේ.
* මෙම ප්‍රශ්න පත්‍රය **A, B** හා **C** යනුවෙන් කොටස් **තුනකින්** සමන්විත වන අතර කොටස් **තුනට ම** නියමිත කාලය **පැය තුනකි.**

**A කොටස – ව්‍යුහගත රචනා (පිටු අංක 02-08)**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** සපයන්න.
* ඔබේ පිළිතුරු, ප්‍රශ්න පත්‍රයේ ඉඩ සලසා ඇති තැන්වල ලිවිය යුතු ය. මේ ඉඩ ප්‍රමාණය පිළිතුරු ලිවීමට ප්‍රමාණවත් බව ද දීර්ඝ පිළිතුරු බලාපොරොත්තු **නො වන** බව ද සලකන්න.

**B කොටස සහ C කොටස – රචනා (පිටු අංක 09)**

* එක් එක් කොටසින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න. මේ සඳහා සපයනු ලබන කඩදාසි භාවිත කරන්න.
* සම්පූර්ණ ප්‍රශ්න පත්‍රයට නියමිත කාලය අවසන් වූ පසු **A, B** සහ **C** කොටස් එක් පිළිතුරු පත්‍රයක් වන සේ **A** කොටස උඩින් තිබෙන පරිදි අමුණා විභාග ශාලාධිපතිට භාර දෙන්න.
* ප්‍රශ්න පත්‍රයේ **B** හා **C** කොටස් පමණක් විභාග ශාලාවෙන් පිටතට ගෙන යාමට ඔබට අවසර ඇත.

**පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි.**

| කොටස | ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|---|
| A | 1 | |
| | 2 | |
| | 3 | |
| | 4 | |
| B | 5 | |
| | 6 | |
| | 7 | |
| C | 8 | |
| | 9 | |
| | 10 | |
| එකතුව | | |

**එකතුව**

| | |
|---|---|
| ඉලක්කමෙන් | |
| අකුරෙන් | |

**සංකේත අංකය**

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක 1 | |
| උත්තර පත්‍ර පරීක්ෂක 2 | |
| ලකුණු පරීක්ෂා කළේ | |
| අධීක්ෂණය කළේ | |

[දෙවැනි පිටුව බලන්න

Department of Examinations, Sri Lanka

## A - කොටස - ව්‍යුහගත රචනා

**සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු **මෙම පත්‍රයේ ම** සපයන්න.

(එක් එක් ප්‍රශ්නය සඳහා නියමිත ලකුණු ප්‍රමාණය **100** කි.)

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

1. (A) මානවයා ඔවුන් අතර අන්තර් ක්‍රියාකාරීත්වය වටහා ගන්නා ආකාරය විස්තර කරන, මතභේදාත්මක සංකල්ප **දෙක** සඳහන් කරන්න.

(1) ..........................................................................................

(2) ..........................................................................................

(B) පහත සඳහන් ක්‍රියාකාරකම්වලින් සිදුවන දූෂණය පාලනය කිරීම සඳහා ක්‍රමවේදයක් බැගින් සඳහන් කරන්න.

(1) කෘෂිකාර්මික ට්‍රැක්ටර්වල ඩීසල් දහනය වීම නිසා සිදුවන අංශු විමෝචනය :

..........................................................................................

(2) ගොවිබිම් සිට මතුපිට ජලය දක්වා අතිරික්ත පෝෂ්‍ය පදාර්ථ අපදාවය වීම :

..........................................................................................

(C) පාසල් ළමුන්ට සමබල ආහාර වේලක් ලබා දීමේ වාසි **දෙකක්** සඳහන් කරන්න.

(1) ..........................................................................................

..........................................................................................

(2) ..........................................................................................

..........................................................................................

(D) ක්ෂණික ආහාර නිතර පරිභෝජනය කිරීමේ අවාසි **දෙකක්** ලියන්න.

(1) ..........................................................................................

(2) ..........................................................................................

(E) විවිධ හේතු නිසා ආහාර නරක් විය හැකිය. පහත සඳහන් එක් එක් ආහාර නරක් වීමේ තත්ත්ව සඳහා **එක්** හේතුවක් බැගින් සඳහන් කරන්න.

| ආහාර නරක් වීමේ තත්ත්ව | හේතුව |
|---|---|
| (1) මුඩු වීම | .................................... |
| (2) කපන ලද සමහර පලතුරුවල දුඹුරු පැහැය ඇති වීම | .................................... |
| (3) කිරි නිෂ්පාදනවල ඇඹුල් රසය වර්ධනය වීම | .................................... |
| (4) පාන් පෙතිමත කළු පැල්ලම් වර්ධනය වීම | .................................... |

(F) ගෘහස්ථ ආහාර සුරක්ෂිතතාව ළඟාකර ගැනීම සඳහා ක්‍රම **දෙකක්** යෝජනා කරන්න.

(1) ..........................................................................................

(2) ..........................................................................................

Department of Examinations - Sri Lanka

[තුන්වැනි පිටුව බලන්න

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

1674

(G) බහුලව භාවිත වන කෘෂිකාර්මික බෝග විශේෂ කිහිපයක නම් පහත දැක්වේ. එක් එක් විශේෂවල ඇති සුදුසු වර්ධක ප්‍රචාරණ ව්‍යූහයක් බැගින් සඳහන් කරන්න.

| විශේෂය | වර්ධක ප්‍රචාරණ ව්‍යූහය |
|---|---|
| (1) *Centella asiatica* | .................................................. |
| (2) *Solanum tuberosum* | .................................................. |

(H) පහත රූපසටහනෙහි දැක්වෙන විවිධ බද්ධ කිරීමේ ක්‍රම හඳුනාගෙන නම් කරන්න.




A ..........................................

B ..........................................

C ..........................................

(I) පහත දැක්වෙන ඖෂධීය ශාකවල සුදුසු ප්‍රචාරණ ද්‍රව්‍යයක් සහ ඖෂධයක් ලෙස භාවිත කරන ශාක කොටසක් බැගින් ලියන්න.

| ඖෂධීය ශාකය | ප්‍රචාරණ ද්‍රව්‍යය | ඖෂධයක් සඳහා භාවිත කරන ශාක කොටස |
|---|---|---|
| (1) අරත්ත | .............................. | (1).................................... |
| (2) ලුණුවිල | .............................. | (2).................................... |
| (3) ඉඟුරු | .............................. | (3).................................... |

Q. 1

100

**2.** (A) (1) ශ්‍රී ලංකාවේ වියළි කලාපයේ ගොවීන් විසින් වැඩිම වර්ෂාපතනයක් අපේක්ෂා කරන මාස නම් කරන්න.

..................................................................................................

(2) සුළඟේ වේගය මැනීම සඳහා භාවිත කරන උපකරණයක් නම් කරන්න.

..................................................................................................

(3) කාලගුණ විද්‍යා මධ්‍යස්ථානයක් තුළ වර්ෂාමානයක් ස්ථාපිත කිරීමේදී සලකා බැලිය යුතු සාධක **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(i) ..................................................................................................

(ii) ..................................................................................................

(B) කිවුල් සහ ලවණ ජල පරිසර පද්ධති සඳහා එක් උදාහරණයක් බැගින් ලියන්න.

| පරිසර පද්ධතිය | උදාහරණය |
|---|---|
| කිවුල් ජල පරිසර පද්ධති | .......................................... |
| ලවණ ජල පරිසර පද්ධති | .......................................... |



Department of Examinations - Sri Lanka

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

(C) එළවළු පසු අස්වනු හානිය අවම කිරීම සඳහා ක්‍රම **හතරක්** සඳහන් කරන්න.

(1) ..............................

(2) ..............................

(3) ..............................

(4) ..............................

(D) කෘෂිකර්මාන්තයේදී භාවිත වන සාම්ප්‍රදායික ජෛව තාක්ෂණික ක්‍රමවේද සඳහා උදාහරණ **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) ..............................

(2) ..............................

(E) සාර්ථක ව්‍යවසායකයකුගේ හොඳ ලක්ෂණ **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) ..............................

(2) ..............................

(F) පහත දැක්වෙන්නේ ඖෂධීය තේ නිෂ්පාදනයට සම්බන්ධ ව්‍යාපාරයකට වූ සිදුවීම් කිහිපයකි. ඒවා ව්‍යාපාරයේ අභ්‍යන්තර පරිසරයේ හෝ බාහිර පරිසරයේ වෙනස්වීම් ද යන්න සඳහන් කරන්න.

(1) අමුද්‍රව්‍ය සැපයුම අඩුවීම හේතුවෙන් නිෂ්පාදනය පහත වැටීම

..............................

(2) නිෂ්පාදන ක්‍රියාවලියේ දෝෂ හේතුවෙන් තේවල ගුණාත්මය අඩුවීම

..............................

(G) ආහාර නිෂ්පාදන ව්‍යාපාරයක් ආරම්භ කිරීමට පෙර වෙළඳ පොළ සැලැස්මක් සකස් කිරීමට හේතු **දෙකක්** සඳහන් කරන්න.

(1) ..............................

(2) ..............................

(H) මුදල් ප්‍රවාහ ප්‍රකාශයක දක්නට ඇති සංඝටක **දෙකක්** සඳහන් කරන්න.

(1) ..............................

(2) ..............................

(I) මෘදු තාක්ෂණය භාවිත කිරීම හා සම්බන්ධ අවදානම් **තුනක්** සඳහන් කරන්න.

(1) ..............................

(2) ..............................

(3) ..............................

Department of Examinations - Sri Lanka

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

(J) ගොඩ ක්‍රමය සහ වළ ක්‍රමය යනු පුළුල් ලෙස භාවිත වන කොම්පෝස්ට් නිෂ්පාදන ක්‍රම වේ. ශ්‍රී ලංකාවේ භාවිත කරන වෙනත් කොම්පෝස්ට් නිෂ්පාදන ක්‍රම **දෙකක්** නම් කරන්න.

(1) ..........................................................................................

(2) ..........................................................................................

Q. 2

100

3. (A) පහත දක්වා ඇති උපකරණයේ/යන්ත්‍රෝපකරණයේ කෘෂිකාර්මික භාවිතයක් බැගින් ලියන්න.

| උපකරණ/යන්ත්‍රෝපකරණ | භාවිතය |
|---|---|
| | (1) ..........................................................<br>.............................................................. |
| | (2) ..........................................................<br>.............................................................. |
| | (3) ..........................................................<br>.............................................................. |
| | (4) ..........................................................<br>.............................................................. |

(B) පහත රූප සටහන මඟින් කෘෂිකාර්මික උපකරණයක් දැක්වේ.




(1) ඉහත උපකරණයේ භාවිතය ලියන්න.

..........................................................................................

..........................................................................................



Department of Examinations - Sri Lanka

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

(2) එම උපකරණයේ ක්‍රියාකාරී මූලධර්මය පැහැදිලි කරන්න.

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

(3) එම උපකරණයෙහි A සහ B කොටස් නම් කර එක් එක් කොටසෙහි ක්‍රියාකාරීත්වය සඳහන් කරන්න.

| කොටස | නම | ක්‍රියාකාරීත්වය |
|---|---|---|
| A | .................................... | ................................................ |
| B | .................................... | ................................................ |

(C) කෘෂිකර්මාන්තයේ භාවිත වන ජල එසවුම් උපකරණ/ක්‍රම **තුනක්** ලැයිස්තුගත කර, එක් එක් උපකරණයේ/ක්‍රමයේ වාසියක් බැගින් ලියන්න.

| | ජල එසවුම් උපකරණය/ක්‍රමය | වාසිය |
|---|---|---|
| (1) | .................................... | ................................................ |
| (2) | .................................... | ................................................ |
| (3) | .................................... | ................................................ |

(D) වාරි ජලය සංරක්ෂණය කිරීමේ පියවර/ක්‍රියාකාරකම් **තුනක්** ලැයිස්තුගත කරන්න.

(1) ..........................................................................................

(2) ..........................................................................................

(3) ..........................................................................................

(E) ශාක මඟින්, පොස්පරස් අවශෝෂණය කරන ප්‍රධාන ආකාර **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) ..........................................................................................

(2) ..........................................................................................

(F) පහත සඳහන් එක් එක් පොහොරවල ප්‍රධාන පෝෂ්‍ය පදාර්ථය සහ එහි ප්‍රමාණය (ප්‍රතිශතයක් ලෙස) සඳහන් කරන්න.

| පොහොර | ප්‍රධාන පෝෂ්‍ය පදාර්ථය | ප්‍රධාන පෝෂ්‍ය පදාර්ථයේ ප්‍රමාණය (%) |
|---|---|---|
| මියුරියේට් ඔෆ් පොටෑෂ් | (1)............................ | (1) ............................ |
| ඇමෝනියම් සල්ෆේට් | (2)............................ | (2) ............................ |

(G) (1) ප්‍රභාසංශ්ලේෂණය අර්ථ දක්වන්න.

..........................................................................................

..........................................................................................



Department of Examinations - Sri Lanka

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

(2) ශාකවල පරිවෘත්තීය ක්‍රියාවලියට පාරිසරික උෂ්ණත්වය ඉහළ යාමේ ඇති බලපෑම් **දෙකක්** සඳහන් කරන්න.

(i) ..........

(ii) ..........

(H) කෘෂිකර්මාන්තයේදී පටක රෝපණය කළ ශාක භාවිත කිරීමේ **අවාසි දෙකක්** සඳහන් කරන්න.

(1) ..........

(2) ..........

Q. 3

100

4. (A) (1) පළිබෝධ පාලනය සඳහා ජෛව පාලකයින් භාවිත කිරීමේ වාසි සහ අවාසි **දෙක** බැගින් සඳහන් කරන්න.

**වාසි**

(i) ..........

(ii) ..........

**අවාසි**

(i) ..........

(ii) ..........

(2) බෝග නිෂ්පාදනයේදී පළිබෝධනාශක භාවිත කිරීමේ වාසි **තුනක්** සඳහන් කරන්න.

(i) ..........

(ii) ..........

(iii) ..........

(B) ශාකයක වර්ධනයට සහාය වීම සඳහා ආරක්ෂිත ගෘහ තුළ බෝග වගාවක භාවිත වන වර්ධක මාධ්‍යයක, අඛණ්ඩව නිරීක්ෂණය කළ යුතු රසායනික පරාමිතීන් **දෙකක්** නම් කරන්න.

(1) ..........

(2) ..........

(C) (1) පහත දැක්වෙන එක් එක් කැපූ මල් වර්ග සඳහා භාවිත කළ හැකි ප්‍රධාන ප්‍රචාරණ ද්‍රව්‍යයක් බැගින් සඳහන් කරන්න.

| කැපූ මල් වර්ග | ප්‍රධාන ප්‍රචාරණ ද්‍රව්‍යය |
| --- | --- |
| (i) ඕකිඩ් | .......... |
| (ii) රෝස | .......... |

(2) ඇන්තූරියම් පුෂ්ප මංජරියක **A** සහ **B** කොටස් නම් කරන්න.




**A** : ..........

**B** : ..........

Department of Examinations - Sri Lanka

මෙම තීරයේ කිසිවක් නො ලියන්න

(D) භූ දර්ශන නිර්මාණ ශිල්පය සඳහා භාවිත කරන දෘඪ ව්‍යූහ **දෙකක්** නම් කරන්න

(1) ..............................................................................................

(2) ..............................................................................................

(E) පහත දැක්වෙන එක් එක් සත්ත්ව ආහාර කාණ්ඩ සඳහා උදාහරණයක් බැගින් නම් කරන්න.

(1) සත්ත්ව ප්‍රෝටීන් පරිපූරක : ..............................................................

(2) ශක්ති පරිපූරක : ..............................................................

(F) පහත දැක්වෙන තෘණ, ගෝචර තෘණ හෝ පෝෂ තෘණ දැයි සඳහන් කරන්න.

(1) නේපියර් තෘණ : ..............................................................

(2) බ්‍රැකේරියා තෘණ : ..............................................................

(G) රැක්කවීම සඳහා සුදුසු බිත්තරවල බාහිර ගුණාංග **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) ..............................................................................................

(2) ..............................................................................................

(H) කලල මාරු ක්‍රියාවලියේදී භාවිත වන හෝමෝන **දෙකක්** නම් කරන්න.

(1) ..............................................................................................

(2) ..............................................................................................

(I) දුම් ගැස්සවීමෙන් හා ලුණු දැමීමෙන් මස් සංරක්ෂණය කරගත හැකි ය. මෙම ක්‍රම දෙක මඟින් මස් සංරක්ෂණය වීමට ප්‍රධාන හේතුව පැහැදිලි කරන්න.

(1) දුම් ගැස්සවීම

..............................................................................................

..............................................................................................

(2) ලුණු දැමීම

..............................................................................................

..............................................................................................

Q. 4

100

* *

Department of Examinations - Sri Lanka

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

නව/පැරණි නිර්දේශය – புதிய/பழைய பாடத்திட்டம் – New/Old Syllabus

NEW/OLD

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Adv. Level) Examination, 2020

කෘෂි තාක්ෂණවේදය II
விவசாயத் தொழினுட்பவியல் II
Agro Technology II

18 S II

## රචනා

* B සහ C යන කොටස්වලින් එක් කොටසකින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.
(එක් ප්‍රශ්නයකට ලකුණු **150** බැගින් ලැබේ.)

## B කොටස

**1.** (i) පහත දැක්වෙන ප්‍රකාශය උදාහරණ සමග විස්තර කරන්න.
"මෘදු තාක්ෂණය සැමවිටම සරල හා ලාභදායී වේ".

(ii) ශ්‍රී ලංකාවේ කෘෂිකාර්මික නිෂ්පාදනයට සුළඟ හා ආර්ද්‍රතාවයේ බලපෑම විස්තර කරන්න.

(iii) සුදුසු උදාහරණ දක්වමින්, ඖෂධීය නිෂ්පාදන සෑදීම සඳහා විවිධ ශාක කොටස් සකසන ආකාරය විස්තර කරන්න.

**2.** (i) ව්‍යාපාරයක් නිසිලෙස කළමනාකරණය කිරීම සම්බන්ධයෙන් වැදගත් වන ක්‍රියාකාරකම් පැහැදිලි කරන්න.

(ii) නිවසේදී නැවුම් පලතුරු හා එළවළුවල සනීපාරක්ෂාව සඳහා රසායනික විෂබීජ නාශක භාවිත කිරීමේ අවදානම, සුදුසු උදාහරණ දක්වමින් විස්තර කරන්න.

(iii) ආහාර බෝග නිෂ්පාදනයේදී, බීජ මගින් බෝග ප්‍රචාරණය කිරීමේ වැදගත්කම පැහැදිලි කරන්න.

**3.** (i) ජාතික මට්ටමේ ආහාර සුරක්ෂිතතාව ළඟා කරගැනීමේදී ආහාර සැකසීමේ වැදගත්කම විස්තර කරන්න.

(ii) ජලජ පරිසර පද්ධති දූෂණය වීමට ධීවර කර්මාන්තය දායක වන ආකාරය පැහැදිලි කරන්න.

(iii) පහත ප්‍රකාශය පැහැදිලි කරන්න.
"සමහර නවීන ජෛව තාක්ෂණික ක්‍රම භාවිතය මගින් ජාන සම්පත් සංරක්ෂණය කිරීමේ අවශ්‍යතාව වැඩි කරයි".

## C කොටස

**4.** (i) උදාහරණ **දෙකක්** යොදාගනිමින් ශ්‍රී ලංකාවේ කෘෂිකර්මාන්තයේ උචිත තාක්ෂණය භාවිත කිරීමේ වාසි විස්තර කරන්න.

(ii) භූ දර්ශන නිර්මාණ ශිල්පයේ ප්‍රධාන උද්‍යාන වර්ගවල වැදගත් අංග ලියන්න.

(iii) හොඳ තත්ත්වයේ, තෘණ සයිලේජ් සෑදීම සඳහා ඇති ප්‍රධාන පියවර විස්තර කරන්න.

**5.** (i) ජීවානුහරණය මගින් කිරි පරිරක්ෂණය කිරීමේ විවිධ ක්‍රම විස්තර කරන්න.

(ii) කෘෂිකර්මාන්තයේ පළිබෝධ පාලනය සඳහා පළිබෝධනාශක ජනප්‍රිය වී ඇත්තේ මන්දැයි පැහැදිලි කරන්න.

(iii) ශ්‍රී ලංකාවේ වියළි කලාපයේ අලුතින් සංස්ථාපනය කරන ලද වම්බටු බෝගයක් සඳහා රසායනික පොහොර යෙදීමේදී සලකා බැලිය යුතු කරුණු විස්තර කරන්න.

**6.** (i) ආරක්ෂිත ගෘහ තුළ ධූමක (misters) භාවිත කිරීමේ අරමුණු විස්තර කරන්න.

(ii) අපනයන වෙළඳ පොළ සඳහා කැපූ මල් බෝගයක් ලෙස ජර්බෙරා වගා කිරීම සඳහා වර්ධක මාධ්‍යයක් සකස් කිරීමේ නිවැරදි ක්‍රියාපටිපාටිය පැහැදිලි කරන්න.

(iii) කෘත්‍රිම සහ ස්වාභාවික බිත්තර රැක්කවීමේ වාසි සහ අවාසි සසඳන්න.

* * *

Department of Examinations - Sri Lanka

